# බෞද්ධ ධර්මාචාර්ය විභාගය - 2012 (2013)

## (01) ථෙරවාදී බුද්ධ ධර්මයේ මූලික ඉගැන්වීම්

(කාලය පැ. 3 යි.)

**( I කොටසේ ප්‍රශ්න සියල්ලටම පිළිතුරු සපයන්න.**

**I කොටස**

01. i. වරහන් තුළ දී ඇති පදවලින් ඒ ඒ ආර්ය සත්‍යයට ගැළපෙන පදය තෝරා හිස්තැන් පුරවන්න.

( ප්‍රහාණය කළ යුතුය. සාක්ෂාත් කළ යුතුය. පිරිසිඳ දත යුතුය, වැඩි යුතුය )

අ). දුඃඛාර්ය සත්‍යය (............................................................)

ආ). දුඃඛ සමුදාර්ය සත්‍යය (............................................................)

ii. හිස්තැන් පුරවන්න.

නිවන යනු, ............................................................යි.

iii. භාව රූප දෙක නම් කරන්න.

අ). ............................................................

ආ). ............................................................

iv. යේ ධම්මා හේතුප්පභවා ........................ මෙම ගාථාව සම්පූර්ණ කර ලියන්න.

............................................................

............................................................

............................................................

............................................................

v. පටිච්ච සමුප්පාදයට අයත් අංග දොළහෙන් ඔබ කැමති හතරක් ලියන්න.

අ). ............................................................

ආ). ............................................................

ඉ). ............................................................

ඊ). ............................................................

vi. ලොව නියාම ධර්ම පහක් ක්‍රියාත්මක වේ. ඉන් තුනක් ලියන්න.

අ). ............................................................

ආ). ............................................................

ඉ). ............................................................

vii. කරුණු තුනක් නිසා ආර්ය අෂ්ටාංගික මාර්ගය එම නම ලබයි. ඒ කරුණු තුන ලියන්න.

අ). ..........................................................................................................................................

ආ). ..........................................................................................................................................

ඉ). ..........................................................................................................................................

viii. පඨවි ආදී දස කසිණ අතුරින් හතරක් නම් කරන්න.

අ). ..........................................................................................................................................

ආ). ..........................................................................................................................................

ඉ). ..........................................................................................................................................

ඊ). ..........................................................................................................................................

ix. සීල විශුද්ධි ධර්ම හතකි. ඉන් හතරක් ලියන්න.

අ). ..........................................................................................................................................

ආ). ..........................................................................................................................................

ඉ). ..........................................................................................................................................

ඊ). ..........................................................................................................................................

x. සති ආදී බොජ්ඣංග ධර්ම හතෙන් හතරක කාර්යයන් පහත දක්වන්න.

| බොජ්ඣංග | කාර්යය |
|---|---|
| .................................................................................. | .................................................................................. |
| .................................................................................. | .................................................................................. |
| .................................................................................. | .................................................................................. |
| .................................................................................. | .................................................................................. |

* * *

## 2557 - බෞද්ධ ධර්මාචාර්ය විභාගය - 2012 (2013)

### (01) ථෙරවාදී බුද්ධ ධර්මයේ මූලික ඉගැන්වීම්

**S 1**

(ප්‍රශ්න හතරකට පමණක් පිළිතුරු සපයන්න.)

### II කොටස

2. (i) ධම්මචක්කප්පවත්තන සූත්‍රයේ එන "ඉදං ඛෝ පන භික්ඛවේ දුක්ඛ සමුදයං අරියසච්චං ........." යනාදි පාඨය සම්පූර්ණ කරන්න. *(ලකුණු 04 යි)*

   (ii) කාම තණ්හා ආදි තෘෂ්ණාවේ ප්‍රභේද **තුන** දක්වා සැකෙවින් පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

   (iii) "තණ්හාව පුනර්භවය ඇති කරයි" කර්මය හා පුනර්භවය පිළිබඳ ඉගැන්වීම් ඇසුරින් මෙයට විවරණයක් සපයන්න. *(ලකුණු 08 යි)*

3. (i) උච්ඡේද වාදය හා ශාස්වත වාදය සැකෙවින් පැහැදිලි කරන්න. *(ලකුණු 04 යි)*

   (ii) චක්ඛු ආදී අටළොස් ධාතු නම් කර ඉන්ද්‍රිය - ආරම්මණ - ඉන්ද්‍රිය විඤ්ඤාණය යන අංග **තුනට** වගු ගතකොට දක්වන්න. *(ලකුණු 06 යි)*

   (iii) ස්කන්ධ - ධාතු - ආයතන විභාගය තුළින් සත්ත්ව පුද්ගල ආදි ව්‍යවහාරයන්හි පරමාර්ථමය පැවැත්මක් නොමැති බව බුදු දහමෙන් සනාථ වන අයුරු විවරණය කරන්න. *(ලකුණු 08 යි)*

4. (i) පටිච්ච සමුප්පාදයේ ද්වාදසාංගය ප්‍රතිලෝම වශයෙන් දක්වන්න. *(ලකුණු 04 යි)*

   (ii) "තණ්හා පච්චයා උපාදානං" මෙයට කෙටි විවරණයක් සපයන්න. *(ලකුණු 06 යි)*

   (iii) පටිච්ච සමුප්පාද ධර්මයේ විශිෂ්ටත්වය නිදසුන් දක්වමින් සාකච්ඡා කරන්න. *(ලකුණු 08 යි)*

5. (i) ආසන්න කර්මය හා ආචිණ්ණ කර්මය සැකෙවින් පැහැදිලි කරන්න. *(ලකුණු 04 යි)*

   (ii) ජෛන මහාවීරයන් ඉදිරිපත් කළ නියති කර්ම වාදය පිළිබඳ පැහැදිලි කිරීමක් කරන්න. *(ලකුණු 06 යි)*

   (iii) චූල්ල කම්ම විභංග සූත්‍රයේ දී සත්ත්වයා උස් පහත් වශයෙන් බෙදනුයේ කර්මය විසින් බව උගන්වා ඇත. ඒ පිළිබඳ විමසීමක් කරන්න. *(ලකුණු 08 යි)*

6. (i) දස අකුසල් නම් කොට ද්වාරත්‍රයට බෙදා දක්වන්න. *(ලකුණු 04 යි)*

   (ii) "න තං කම්මං කතං සාධු ................" ගාථාව සම්පූර්ණ කර අරුත් දක්වා දේශිත ධර්මය පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

   (iii) කුසල් උපදවා ගැනීමෙහිලා "සම්මා දිට්ඨිය" කෙතරම් දුරට උපයෝගී වන්නේ දැයි විමසන්න. *(ලකුණු 08 යි)*

7. (i) බොජ්ඣංග ධර්ම **හත** නම් කරන්න. *(ලකුණු 04 යි)*

   (ii) ඉන්ද්‍රිය ධර්මයක් හැටියට සද්ධාවට හිමි තැන පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

   (iii) සැපය පිළිබඳ බෞද්ධ විග්‍රහය පැහැදිලි කරමින් නිවන පරම සුවය වන අයුරු විවරණය කරන්න. *(ලකුණු 08 යි)*

***